ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**81 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023 (2024)

| | | |
|---|---|---|
| කෘෂි හා ආහාර තාක්ෂණය | I, II | පැය තුනයි |
| விவசாயமும் உணவுத் தொழினுட்பவியலும் | I, II | மூன்று மணித்தியாலம் |
| Agriculture and Food Technology | I, II | Three hours |

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## කෘෂි හා ආහාර තාක්ෂණය I

උපදෙස්:

- ✳ **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- ✳ අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
- ✳ **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
- ✳ එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ඉතිහාසය අනුව මානව ශිෂ්ටාචාරය විකාශය වීමේදී පසු කළ යුග අනුපිළිවෙළින් දැක්වෙන වරණය කුමක් ද?
(1) ගොවි යුගය, දඩයම් යුගය, එඬේර යුගය
(2) එඬේර යුගය, ගොවි යුගය, දඩයම් යුගය
(3) දඩයම් යුගය, එඬේර යුගය, ගොවි යුගය
(4) එඬේර යුගය, දඩයම් යුගය, ගොවි යුගය

**2.** අවුරුද්දේ කුමන කාලයක වගා කළත් නියමිත වයසේදී ම පිදීම සිදු වන බෝග අයත් වන්නේ,
(1) කෙටි දින බෝග කාණ්ඩයට ය.
(2) දිගු දින බෝග කාණ්ඩයට ය.
(3) ප්‍රභා අවධි සංවේදී බෝග කාණ්ඩයට ය.
(4) දින උදාසීන බෝග කාණ්ඩයට ය.

**3.** පාසල් වත්තේ සවිකර ඇති සුළං දිශා දර්ශකයක ඊ හිස, ඊසාන දිශාවට යොමු වී ඇත්නම් එම අවස්ථාවේ සුළං හමන දිශාව වන්නේ,
(1) ඊසාන සිට නිරිත දෙසට ය.
(2) නිරිත සිට ඊසාන දෙසට ය.
(3) වයඹ සිට ගිනිකොන දෙසට ය.
(4) ගිනිකොන සිට වයඹ දෙසට ය.

**4.** පහත දැක්වෙන ප්‍රකාශ අධ්‍යයනය කරන්න.

A - වර්ෂාපතනයේ ප්‍රමාණය හා ව්‍යාප්තිය අනුව ශ්‍රී ලංකාව තෙත්, අතරමැදි හා වියළි වශයෙන් ප්‍රධාන දේශගුණික කලාප තුනකට බෙදා ඇත.
B - තෙත් කලාපයට ප්‍රධාන වශයෙන් නිරිත දිග මෝසම් සුළඟින් ද, වියළි කලාපයට ප්‍රධාන වශයෙන් ඊසාන දිග මෝසම් සුළඟින් ද වර්ෂාව ලැබේ.
C - නිරිත දිග මෝසම් සුළං වර්ෂාවෙන් පමණක් වගා කරන කාලය 'මහ කන්නය' වශයෙන් ද ඊසාන දිග මෝසම් සුළං වර්ෂාවෙන් පමණක් වගා කරන කාලය 'යල කන්නය' වශයෙන් ද හැඳින්වෙයි.

මෙම ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශ වන්නේ,
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B හා C යන සියල්ල ම ය.

**5.** මල් පෝච්චියක පස් පුරවා එම පස් ජලයෙන් සංතෘප්ත කර අතිරික්ත ජලය බැස ගිය පසු එම පෝච්චියේ අඩංගු පසෙහි තිබිය හැක්කේ,
(1) ගුරුත්වාකර්ෂණ ජලය පමණි.
(2) ජලාකර්ෂක ජලය පමණි.
(3) ගුරුත්වාකර්ෂණ හා කේශාකර්ෂණ ජලය පමණි.
(4) කේශාකර්ෂණ හා ජලාකර්ෂක ජලය පමණි.

**6.** පස් සාම්පලයක් ගෙන, වාතයේ වියළා මිලි මීටර 2 සිදුරු සහිත පෙනේරයකින් හැලූ විට පෙනේරයෙහි ඉතිරි වන්නේ,
(1) රළු වැලි ය.
(2) බොරළු ය.
(3) රළු වැලි හා සියුම් වැලි ය.
(4) රළු වැලි හා බොරළු ය.

7. pH අගය 5ක් වූ පසක් බෝග වගාවට සුදුසු තත්ත්වයට පත් කිරීමට පසට එකතු කළ යුතු ද්‍රව්‍යය වනුයේ,

(1) ඩොලමයිට් ය.
(2) ගෙන්දගම් ය.
(3) මැටි ය.
(4) රොක් පොස්පේට් ය.

8. පස සම්බන්ධ ප්‍රකාශ තුනක් පහත දැක්වේ.

A - පසේ අඩංගු ඛනිජ ද්‍රව්‍යවල සාපේක්ෂ ප්‍රමාණය මත එම පසේ වයනය තීරණය වෙයි.
B - පසට කාබනික ද්‍රව්‍ය එකතු කිරීම මගින් පසේ කැටායන හුවමාරු ධාරිතාව අඩු වෙයි.
C - පසේ කැටිති ව්‍යුහය බෝග වගාවට හිතකර ය.

මෙම ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශ වන්නේ,

(1) A සහ B පමණි.
(2) A සහ C පමණි.
(3) B සහ C පමණි.
(4) A, B හා C යන සියල්ල ම ය.

9. පාෂාණවල භෞතික ජීරණය කෙරෙහි ප්‍රධාන වශයෙන් බලපාන සාධක පමණක් අඩංගු වරණය තෝරන්න.

(1) උෂ්ණත්වය වෙනස් වීම, ජලය මිදීම, කැටායන හුවමාරුව හා ශාක මුල්
(2) සත්ත්ව ක්‍රියා, කාබන් ඩයොක්සයිඩ්, ක්ෂුද්‍ර ජීවී ක්‍රියා හා ග්ලැසියර්
(3) ගලා යන ජලය, රළ ක්‍රියා, කාබන් ඩයොක්සයිඩ් හා ජලය මිදීම
(4) ගලා යන ජලය, උෂ්ණත්වය වෙනස් වීම, සුළඟ හා රළ ක්‍රියා

10. ශ්‍රී ලංකාවේ තෙත් කලාපයේ පස ආම්ලික වීමට බලපාන ප්‍රධාන හේතුව කුමක් ද?

(1) පසට යූරියා පොහොර නිතර යෙදීම
(2) එක ම ගැඹුරකට වැඩි වාර ගණනක් පස පෙරළීම
(3) පසේ ක්ෂුද්‍ර ජීවීන්ගේ ක්‍රියාකාරිත්වය වැඩි වීම
(4) පසේ ඇති භාස්මික අයන වර්ෂා ජලයෙන් සේදී යාම

11. දී ඇති රූපසටහනේ දැක්වෙන බිම් සකස් කිරීමේ උපකරණය මගින් සිදු කරනු ලබන්නේ,



(1) පස කැපීම ය.
(2) පස කැපීම හා පෙරළීම ය.
(3) පස පෙරළීම හා කැට පොඩි කිරීම ය.
(4) කැට පොඩි කිරීම හා සමතලා කිරීම ය.

12. ඩැපොග් තවානක බීජ පැළ ගලවා සිටුවිය යුත්තේ තවාන් දමා දින,

(1) 6 - 8 වයසේදී ය.
(2) 10 - 12 වයසේදී ය.
(3) 15 - 16 වයසේදී ය.
(4) 17 - 19 වයසේදී ය.

● අංක 13 හා 14 ප්‍රශ්නවලට පිළිතුරු දීමට පාංශු තෙතමන මට්ටම් දැක්වෙන පහත දී ඇති සටහන උපයෝගී කර ගන්න.




13. බෝග වගාව සඳහා ප්‍රශස්ත පාංශු තෙතමන මට්ටම කුමක් ද?

(1) A
(2) B
(3) C
(4) D

14. බෝග වගාවේදී ප්‍රායෝගික ව ජල සම්පාදනය කළ යුතු යැයි සැලකෙන පාංශු තෙතමන මට්ටම පවතින්නේ,

(1) A හා B අතර ය.
(2) A හා C අතර ය.
(3) B හා C අතර ය.
(4) C හා D අතර ය.

15. ශාකවලට අත්‍යවශ්‍ය මහා පෝෂකයක් අඩංගු, රතු දුඹුරු පැහැති ස්ඵටික ලෙස පවතින, ජලයේ හොඳින් දිය වන රසායනික පොහොර වර්ගය කුමක් ද?

(1) මියුරියේට් ඔෆ් පොටෑෂ්
(2) ත්‍රිත්ව සුපර් පොස්පේට්
(3) යූරියා
(4) රොක් පොස්පේට්

[තුන්වැනි පිටුව බලන්න

27. බෝගයක වර්ධක වර්ධනය අවසන් වී ප්‍රජනක වර්ධනය ආරම්භ වන විට නවත් බෝගයක් එම ක්ෂේත්‍රයේ ම සංස්ථාපනය කරන බෝග වගා රටාව හඳුන්වන්නේ,
(1) බෝග මාරුව ලෙස ය.
(2) මිශ්‍ර බෝග වගාව ලෙස ය.
(3) අතුරු බෝග වගාව ලෙස ය.
(4) කඩින් කඩ වගාව ලෙස ය.

28. පරිණත අවධියට පසු ව අස්වනු නෙළීම නිසා තන්තුමය ස්වභාවය වැඩි වී ආහාර රුචිය අඩු වීමට ලක් වන බෝග වන්නේ,
(1) කෙසෙල් හා පේර ය.
(2) පැපොල් හා අඹ ය.
(3) දඹල හා බෝංචි ය.
(4) මිරිස් හා තක්කාලි ය.

29. රක්තහීනතාවට බලපාන්නේ කුමන විටමින් වර්ගයේ ඌනතාවක් ද?
(1) A (2) $B_{12}$ (3) D (4) K

30. 'ඇෆ්ලටොක්සින්' අඩංගු විය හැකි ආහාරයක් වන්නේ,
(1) හොඳින් නොතැම්බූ මස් ය.
(2) පුස් සහිත රට කජු ය.
(3) කල් ඉකුත් වූ බිත්තර ය.
(4) තැලීමට භාජන වූ පලතුරු ය.

31. සාන්ද්‍රීකරණය මගින් කල් තබා ගන්නා ආහාරයකි,
(1) කල් කිරි. (2) ලුණු දෙහි. (3) චීස්. (4) කරවල.

32. කෝඩියල් නිෂ්පාදනයේදී අනුමත ප්‍රමාණවලින් යොදන නිර්දේශිත පරිරක්ෂක ද්‍රව්‍යයක් වන්නේ,
(1) සෝඩියම් නයිට්රේට් ය.
(2) ලැක්ටික් ඇසිඩ් ය.
(3) ඇසිටික් ඇසිඩ් ය.
(4) සෝඩියම් මෙටාබයිසල්ෆයිට් ය.

33. කිරි ලබා ගැනීම සඳහා ශ්‍රී ලංකාවේ ඇති කරන යුරෝපීය ගව වර්ග පමණක් අඩංගු වරණය තෝරන්න.
(1) සින්දි හා සහිවාල්
(2) ෆ්‍රීෂියන් හා අයර්ෂයර්
(3) මුරා හා සුර්ති
(4) ජර්සි හා නිලිරවි

34. සතාට අවශ්‍ය ජලය, ආහාර සහ සියලු පහසුකම් ලබාදෙමින් පූර්ණකාලීන ව ගවයින් නිවාස තුළ ඇති කිරීම හඳුන්වන්නේ,
(1) නිදැලි ක්‍රමය යනුවෙනි.
(2) අඩ සියුම් ක්‍රමය යනුවෙනි.
(3) සියුම් ක්‍රමය යනුවෙනි.
(4) නිදහස් ක්‍රමය යනුවෙනි.

35. කැල්සියම් ඌනතාව නිසා ගවයින්ට වැළඳෙන රෝගය කුමක් ද?
(1) කිරි උණ
(2) කාල ගාත්‍රා රෝගය
(3) බුරුළු ප්‍රදාහය
(4) බඩ පිපුම

36. වාණිජ මට්ටමින් කුකුළන් ඇති කිරීම සඳහා ශ්‍රී ලංකාවේ බහුල ව භාවිත කරන ක්‍රමය කුමක් ද?
(1) ඝන ආස්තරණ ක්‍රමය
(2) නිදැලි ක්‍රමය
(3) තට්ටු ක්‍රමය
(4) කූඩු ක්‍රමය

37. ප්‍රෝටසෝවා මගින් කුකුළන්ට වැළඳෙන රෝගයක් වනුයේ,
(1) පුල්ලෝරම් ය.
(2) රනිකට් ය.
(3) කොක්සිඩියෝසිස් ය.
(4) ගම්බෝරෝ ය.

38. සත්ත්ව ආහාර සලාක සැකසීමේදී ප්‍රෝටීන් ලබා දීම සඳහා භාවිත කළ හැකි ආහාර සංඝටකයකි,
(1) බඩ ඉරිඟු. (2) සිප්පි කටු. (3) සෝයා අන්නය. (4) මෝර තෙල්.

39. බහු ආස්තර ඇසුරුමක් වන ටෙට්‍රාපැක් ඇසුරුම්වල බහා පාරිභෝගිකයා වෙත සපයනු ලබන ආහාරයක් වනුයේ,
(1) අයිස්ක්‍රීම් ය. (2) පලතුරු යුෂ ය. (3) චීස් ය. (4) පොල්තෙල් ය.

40. ආහාර ප්‍රමිතිකරණය පිළිබඳ ව ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.

A - SLS යනු ජාතික මට්ටමේ ප්‍රමිතියකි.
B - ISO යනු ජාත්‍යන්තර මට්ටමේ ප්‍රමිතියකි.
C - ප්‍රමිතිකරණය මගින් පාරිභෝගික ආරක්ෂාව තහවුරු වේ.

මෙම ප්‍රකාශ අතුරෙන් නිවැරදි වන්නේ,
(1) A සහ B පමණි.
(2) A සහ C පමණි.
(3) B සහ C පමණි.
(4) A, B හා C යන සියල්ල ම ය.

* *

[පස්වැනි පිටුව බලන්න.

**81 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023 (2024)

කෘෂි හා ආහාර තාක්ෂණය I, II
விவசாயமும் உணவுத் தொழினுட்பவியலும் I, II
Agriculture and Food Technology I, II

## කෘෂි හා ආහාර තාක්ෂණය II

✳ **පළමුවැනි** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට පමණක්** පිළිතුරු සපයන්න.

**1.** පාසල් ප්‍රදර්ශනයකට සූදානම් වන සිසු පිරිසක් විවිධ බෝග වගා ආදර්ශනය කිරීම, තවාන් සහ කොම්පෝස්ට් සැකසීම සහ කෘෂිකර්මයට සම්බන්ධ විවිධ ආකෘති නිර්මාණයට සූදානම් වූහ.

(i) මෙම ප්‍රදර්ශනය සඳහා ආදර්ශනය කළ හැකි තවාන් වර්ග **හතරක්** සඳහන් කරන්න.

(ii) උස් බිම් බෝග සඳහා තවාන් මිශ්‍රණය සැකසීමට අවශ්‍ය අමුද්‍රව්‍ය නම් කර නියමිත අනුපාත සඳහන් කරන්න.

(iii) එළවළු තවාන්වලට බහුලව වැළඳෙන රෝගයක් සඳහන් කර, එම රෝගයට හේතු වන රෝගකාරකය සඳහන් කරන්න.

(iv) (a) ප්‍රදර්ශනයේදී ආදර්ශනය කළ හැකි කොම්පෝස්ට් සැකසීමේ ක්‍රම **දෙකක්** සඳහන් කරන්න.
(b) පසට කොම්පෝස්ට් එකතු කිරීමෙන් ලැබෙන වාසි **දෙකක්** ලියන්න.

(v) නිර්පාංශු වගා ක්‍රම ආදර්ශනයේදී ඒ සඳහා යොදා ගත හැකි රෝපණ මාධ්‍ය **දෙකක්** සහ බහුලව භාවිත කරනු ලබන පෝෂණ මාධ්‍යයක් සඳහන් කරන්න.

(vi) ප්‍රදර්ශනය සඳහා සැකසිය හැකි රසායනික නොවන පළිබෝධනාශක **හතරක්** සඳහන් කරන්න.

(vii) (a) ප්‍රදර්ශන භූමියේ අලංකරණය පිණිස සකසා ඇති තෘණ භූමිය සඳහා සුදුසු ජල සම්පාදන ක්‍රමය කුමක් ද?
(b) ජලය සමග පොහොර යෙදිය හැකි සූක්ෂ්ම ජල සම්පාදන ක්‍රමයක් ආදර්ශනය කිරීම සඳහා පොලිතීන් මලුවල වගාකර ඇති මිරිස් වගාවකට සුදුසු ජල සම්පාදන ක්‍රමය සඳහන් කරන්න.

(viii) වැවක ආකෘතියක් නිර්මාණය කිරීමේදී ඊට ඇතුළත් කළ යුතු අංග **හතරක්** සඳහන් කරන්න.

(ix) ගව නිවාස ආකෘති සැකසීමේදී ඊට ඇතුළත් කළ යුතු ප්‍රධාන අංග **හතරක්** සඳහන් කරන්න.

(x) ගවයින් ගැට ගසා තබන ක්‍රමය අනුව සැකසිය හැකි ගව නිවාස ආකාර **දෙක** ලියන්න.

**2.** බෝග වගාවෙන් ප්‍රශස්ත අස්වැන්නක් ලබා ගැනීම සඳහා දේශගුණික සාධකවල බලපෑම අධ්‍යයනය කිරීම වැදගත් වේ.

(i) (a) ශ්‍රී ලංකාව ප්‍රධාන කෘෂි දේශගුණික කලාප කීයකට බෙදා තිබේ ද?
(b) එසේ කලාපවලට බෙදීමට පදනම් වූ සාධක **දෙක** සඳහන් කරන්න.

(ii) (a) යම් ප්‍රදේශයක පරිසර උෂ්ණත්වය වෙනස්වීම කෙරෙහි බලපාන සාධක **හතරක්** සඳහන් කරන්න.
(b) බෝග වගාවේදී උෂ්ණත්වයේ හිතකර බලපෑම් **හතරක්** ලියන්න.

(iii) ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක කර ඇති බහුකාර්ය සංවර්ධන යෝජනා ක්‍රමවල පොදු අරමුණු **තුනක්** සඳහන් කරන්න.

**3.** ශ්‍රී ලංකාවේ කෘෂි නිෂ්පාදනවල පසු අස්වනු හානිය අවම කිරීම සඳහා එක් පියවරක් ලෙස ආහාර පරිරක්ෂණය හඳුන්වා දිය හැකි ය.

(i) (a) පසු අස්වනු හානියට බලපාන පෙර අස්වනු සාධක **හතරක්** ලියන්න.
(b) බෝග අස්වනු ප්‍රවාහනයේදී දක්නට ලැබෙන දුර්වලතා **හතරක්** සඳහන් කරන්න.

(ii) ආහාර පරිරක්ෂණ ක්‍රම **තුනක්** නිදසුන් සහිතව සඳහන් කරන්න.

(iii) (a) ආහාරවල අගය වැඩි කිරීමේ වැදගත්කම **දෙකක්** සඳහන් කරන්න.
(b) ආහාරවල අගය වැඩි කිරීමේ ක්‍රම **දෙකක්** ලියන්න.

4. ශාක ප්‍රචාරණයේදී බීජ මෙන්ම වර්ධක කොටස් ද යොදා ගැනේ.

(i) බීජ මගින් ශාක ප්‍රචාරණය කිරීමේ වාසි **හතරක්** සඳහන් කරන්න.

(ii) අඹ ශාකයකට අංකුර බද්ධයක් සිදු කරන ආකාරය නම් කළ රූපසටහන් ඇසුරෙන් පැහැදිලි කරන්න.

(iii) (a) බෝග වගාවේදී පාලිත තත්ත්ව ලබා දීම සඳහා සකස් කරනු ලබන ස්ථිර වගා ව්‍යුහ **හතරක්** සඳහන් කරන්න.

(b) නිර්පාංශු වගාවේදී භාවිත කරන රෝපණ මාධ්‍යයක තිබිය යුතු ලක්ෂණ **දෙකක්** ලියන්න.

5. පළිබෝධ පාලනය සඳහා ශෂ්‍ය විද්‍යාත්මක ක්‍රම යොදා ගැනීම වඩාත් සුදුසු වේ.

(i) (a) බෝග වගාවේදී අනුගමනය කරන ශෂ්‍ය විද්‍යාත්මක පළිබෝධ පාලන ක්‍රම **හතරක්** සඳහන් කරන්න.

(b) ශාකයකට රෝගයක් වැළඳීමට සම්පූර්ණ විය යුතු සාධක **තුන** රෝග ත්‍රිකෝණයක් මගින් දැක්විය හැකිය. එම සාධක ලියන්න.

(ii) ස්පර්ශ වල්නාශක හා සංස්ථානික (පරිසර්පන) වල්නාශක අතර වෙනස කෙටියෙන් ලියා දක්වන්න.

(iii) (a) අවුලකපෝරා කුරුමිණියාගේ ජීවන චක්‍රයේ අවස්ථා පිළිවෙළින් දක්වන්න.

(b) එම කෘමියා හානි කරන්නේ කුමන කුලයේ බෝගවලට ද?

(c) එම හානිය පාලනය කරන ක්‍රම **දෙකක්** ලියන්න.

6. බෝගවලින් අපේක්ෂිත අස්වනු ලබා ගැනීම සඳහා ඌනතාවකින් තොරව ශාක පෝෂක ලබා දිය යුතු වේ.

(i) (a) බෝග වර්ධනය සඳහා අවශ්‍ය මහා පෝෂක **දෙකක්** සහ ක්ෂුද්‍ර පෝෂක **දෙකක්** වෙන වෙනම සඳහන් කරන්න.

(b) පසට යොදන රසායනික පොහොර බෝග මගින් ප්‍රයෝජනයට ගැනීමේ හැකියාව ඉහළ නැංවීම පිණිස ගත හැකි ක්‍රියාමාර්ග **හතරක්** සඳහන් කරන්න.

(ii) බහුවාර්ෂික බෝගවලට රොක් පොස්පේට් යෙදීම නිර්දේශ කළ ද වාර්ෂික බෝග සඳහා නිර්දේශ කරනුයේ ත්‍රිත්ව සුපර් පොස්පේට් (TSP) ය. මෙයට හේතුව කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) ශාක වර්ධනයට පොස්පරස් පෝෂකයේ වැදගත්කම් **දෙකක්** සඳහන් කර පොස්පරස් ඌනතාවේදී ශාකවල දැකිය හැකි ලක්ෂණ **දෙකක්** ලියන්න.

7. මානව පෝෂණයේදී ආහාරයෙහි ප්‍රෝටීන අවශ්‍යතාව සපුරාලීමට සත්ත්ව නිෂ්පාදන වැදගත් වේ.

(i) (a) සත්ත්ව නිෂ්පාදන හා සෞඛ්‍ය දෙපාර්තමේන්තුව විසින් හඳුනාගෙන ඇති ශ්‍රී ලංකාවේ ගව පාලන කලාප **හතරක්** සඳහන් කරන්න.

(b) ඉන්දීය ගව වර්ග හා යුරෝපීය ගව වර්ග අතර ඇති වෙනස්කම් **හතරක්** සඳහන් කරන්න.

(ii) කුකුළු පාලනයේදී යොදා ගැනීමට සුදුසු අතුරණුවක තිබිය යුතු ලක්ෂණ **හතරක්** ලියන්න.

(iii) (a) සත්ත්ව පෝෂණයේදී භාවිත කරනු ලබන සාන්ද්‍ර ආහාර හා දළ ආහාර අතර වෙනස්කම් **දෙකක්** සඳහන් කරන්න.

(b) සාන්ද්‍ර ආහාර හා දළ ආහාර සඳහා උදාහරණ **දෙක** බැගින් ලියන්න.

# LOL.lk
## BookStore

# විභාග ඉලක්ක
# පහසුවෙන් ජයගන්න

ඕනෑම පොතක් ඉක්මනින්
නිවසටම ගෙන්වා ගන්න






| කෙටි සටහන් | පසුගිය ප්‍රශ්න පත්‍ර | වැඩ පොත් | සඟරා | O/L ප්‍රශ්න පත්‍ර
| A/L ප්‍රශ්න පත්‍ර | අනුමාන ප්‍රශ්න පත්‍ර | අතිරේක කියවීම් පොත්
| School Book | ගුරු අත්පොත්

pesuru Prakashana Private Ltd. | Akura Pilot | සමනල දැනුම | T | සතර

පෙර පාසලේ සිට උසස් පෙළ දක්වා සියළුම ප්‍රශ්න පත්‍ර,
කෙටි සටහන්, වැඩ පොත්, අතිරේක කියවීම් පොත්, සඟරා
සිංහල සහ ඉංග්‍රීසි මාධ්‍යයෙන් ගෙදරටම ගෙන්වා ගැනීමට

**www.LOL.lk වෙබ් අඩවිය වෙත යන්න**